


IV කොටස—අධ්‍යාපන, විද්‍යා සහ කලා (E)

# 1961-62 වර්ෂය සඳහා ජාතික කෞතුකාගාර අධ්‍යක්ෂක තැනගේ පරිපාලන වාර්තාව

ජූනි, 1963

ආචාර්ය ප. එ. ප. දැරණියගල මහත්මා

---

PART IV—EDUCATION, SCIENCE AND ART (E)

# Administration Report of the Director of National Museums for 1961-62



June, 1963

Dr. P. E. P. Deraniyagala

---

ලංකාවේ වාලච්චේනයෙහි පිහිටි "ඊස්ටර්න් පේපර් මිල්ස් කෝපරේෂන්" හි නිපදවන ලද කඩදාසිවල ආණ්ඩුවේ නියමයෙන් ලංකාණ්ඩුවේ මුද්‍රණාලයේ මුද්‍රිතයි

කොළඹ මහ ලේකම් ගොඩනැගිල්ලේ පිහිටි තැ. පෙ. අංක 500 දරණ රජයේ ප්‍රකාශන කාර්යාංශයෙන් මිලදී ලබාගත හැක

PRINTED ON THE ORDERS OF GOVERNMENT AT THE GOVERNMENT PRESS, CEYLON, ON PAPER MANUFACTURED AT THE EASTERN PAPER MILLS CORPORATION, VALAICHCHENAI, CEYLON.

TO BE PURCHASED AT THE GOVERNMENT PUBLICATIONS BUREAU, P. O. BOX 500, SECRETARIAT, COLOMBO, AND THE COLOMBO MUSEUM

මිළ *Price* : 1/35 — තැපැල් ගාස්තුව *Postage* : -/50

# 1961-62 වර්ෂය සඳහා ජාතික කෞතුකාගාර අධ්‍යක්ෂක තැනගේ පරිපාලන වාර්තාව

## කොළඹ ජාතික කෞතුකාගාරය

**නරඹන්නෝ.**—නරඹන්නන්ගේ සංඛ්‍යාව 2,27,061 ක් විය. මෙය පසුගිය වසරේ සංඛ්‍යාවට වඩා 31,611 කින් වැඩි ය.

**කමිටු.**—උපදේශක කමිටුව නෙවරක් රැස්විය. ජාත්‍යන්තර කෞතුකාගාර සංගමයේ

### නිවැරදි කිරීමයි

E 5 වෙනි පිටුවේ (3) අනුඡේදය "පොළඟා රැකගැනීම" කියා නොව "පිඹුරා රැකගැනීම" යනුවෙන් විය යුතුය.

### ERRATUM

*Page E 29, paragraph 3*—The last word in the penultimate line should read "Prehistory" and not "Proprietory" as appearing therein.

R 10365—550 (6/63) GOVT. PRESS, CEYLON.

හොනොලුලු හි පිහිටි ඈත පෙරදිග ප්‍රාග් ඓතිහාසික සංගමයේ ප්‍රාදේශිය සංස්කාරක වශයෙන් ද කටයුතු කරයි.

සත්ව විද්‍යා සහකාර තැන්පත් ආචාර්ය පි. එච්. ඩි. එච්. ද සිල්වා මහතා ලන්ඩන් සත්ව විද්‍යා සමාජයේ විද්‍යාත්මක සාමාජිකත්වයක් සඳහා ඉල්ලුම් කිරීමෙන් පසුව තෝරා පත්කැර ගනු ලැබිය. මානව වංශ විද්‍යා සහකාර තැන්පත් ඩී. ඇම්. ඒ. ද සිල්වා මහතා විද්‍යොදය විශ්ව විද්‍යාලයයේ සමාජ මානව විද්‍යාව හා සිංහල සංස්කෘතිය පිළිබඳ බාහිර කථිකාචාර්යවරයා වශයෙන් දිගටම ක්‍රියා කෙළේය. අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර තැන්පත් එච්. ඒල්. කල්දේරා මහත්මා අවුරුදු 37 ක සේවයකින් පසුව 1962 ජනවාරි මස 6 වැනි දින විශ්‍රාම ලැබිය. හේ 1925 අගෝස්තු මස 1 වැනි දින පුස්තකාල සහකාර වශයෙන් දෙපාර්තමේන්තුවට බැඳුණේය. 1929 මැයි 1 වැනි දින හෙතෙම මුරකරු පරීක්ෂක වශයෙන් උසස් කරනු ලැබිය. 1942 වර්ෂයේදී කොළඹ කෞතුකාගාරය හිස් කරනු ලැබූ වේලේ හෙතෙම, අගනා සේවයක් ඉටුකළ අතර, ආරක්ෂකයන් වශයෙන් පත් කරනු ලැබූ කොළඹ කෞතුකාගාර නිලධරයන් දෙදෙනාගෙන් එකෙක් වීමේ භාග්‍යය ද ලැබීමෙහි සමත්විය.

යුද්ධයෙන් පසුව සත්ව විද්‍යා භාණ්ඩ හැර අනෙක් භාණ්ඩ සියල්ල කොළඹ වෙත ආපසු ගෙනෙනු ලැබූ වේලේ ඒ සියල්ල පවරන ලද්දේ ඔහුගේ භාරකාරත්වයටය. හේ 1952 ඔක්තෝබර් මාසයේ දී දෙපාර්තමේන්තුවට පත්වූ පළමුවැනි අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාරවරයා වශයෙන් උසස් කරනු ලැබිය. ඔහු භාරයේ පැවැති භාණ්ඩ අළුතින් පත්කරනු ලැබූ ප්‍රාග් ඉතිහාසය හා භූගර්භ විද්‍යාව, මානව විද්‍යාව හා පුරාවිද්‍යාව සහ පැරණි සිතුවම් යන මේ අංශ පිළිබඳ ආරක්ෂකයන් තිදෙන අතර බෙදා හරිනු ලැබිය.

පැරණි සිතුවම් යන මේ අංශ පිළිබඳ ආරක්ෂකයන් තිදෙන අතර බෙදාහරිනු ලැබිය.

හෙතෙම සවකීය සේවා කාල පරිච්ඡේදය මුළුල්ලෙහිම, සිය භාරයේ පැවැති භාණ්ඩ හා ඒවායේ ප්‍රදර්ශනය කෙරෙහි බලවත් උනන්දුවක් දැක්වීය. නිදහස් කෞතුකාගාර දේශන හා ගුවන් විදුලි කථා පැවැත්වීමේ වැඩ පිළිවෙල සංවිධානය කිරීමෙහි ලා මහඟු සේවයක් කළ හෙතෙම ප්‍රාග් ඓතිහාසික භූමිභාගයක්වූ රාවණා ඇල්ල ගුහාව කැණීමෙහි ලා ද අති විශාල මෙහෙයක් ඉටු කෙළේය.

කල්දේරා මහතාගේ උනන්දුව හුදෙක් සිය සාමාන්‍ය දෛනික රාජකාර්‍ය කෙරෙහි පමණක්ම සීමා වූයේ නැත. ප්‍රදර්ශන භාණ්ඩ ගැන ඔහු පළකළ ශාස්ත්‍රීය ලිපි සංඛ්‍යාව ද, ලංකාවේ මිල මුදල් ගැන ඔහු සම්පාදනය කළ ග්‍රන්ථය ද මේ බවට සාක්ෂි දරයි.

හේ කොළඹ කෞතුකාගාර ක්‍රීඩා හා සුභ සාධක සමාජයේ සභාපතිවරයා වූ අතර, රාජ්‍ය සේවා බෞද්ධ සම්මේලනයේ කෞතුකාගාර ශාඛාවේ සභාපති ද විය.

කල්දේරා මහතා සිය භාරයේ පැවැති සෑම අංශයක්ම සංවර්ධනය කිරීමෙහි ලා මහඟු සහායක් දුන්නේය. එහෙත් ඔහුගේ විශේෂ ඇලීම වූයේ මානව වංශ විද්‍යා හා මානව විද්‍යා භාණ්ඩ රැසය.

විද්‍යෝදය විශ්ව විද්‍යාලයීය කෞතුකාගාරයේ ආරක්ෂක තැන වශයෙන් ඔහු අළුතින් අරඹා තිබෙන කටයුත්තෙහි ලා සිය සගයන් සියලු දෙනාගේම හිතාදර ආශීර්වාද හා සුබ පැතුම් ඔහු වෙත පිරිනැමේ.

පුරා අවුරුදු 37 ක් තිස්සේ පුස්තකාලයෙහි කාර්‍යක්ෂම ලෙසත්, පක්ෂපාතී ලෙසත්, හිතවත් ලෙසත් සේවය කළ කාර්‍යාල කාර්‍ය සහායක එම්. බී. තිසේරා මහතා 1961 ඔක්තෝබර් මස 31 වැනි දින විශ්‍රාම ලැබීය.

හිස්වැ තුබුණු මුරකරු තනතුරු සය පුරවන ලදී.

එකොළොස් වසක් පුරා දෙපාර්තමේන්තුවට ඉතා හිතවත් ලෙස සිය රාජකාර්‍ය ඉටුකළ කාර්‍යාල කාර්‍ය සහායක කේ. සී. සී. ප්‍රනාන්දු මහතාගේ අකාල මරණය ගැන දෙපාර්තමේන්තුව සවකීය සාතිශය සංවේගය පළ කරයි.

**නව උතුරු දිශා ගොඩනැගිල්ල.** උතුරු දිශා ගොඩනැගිල්ලේ බටහිර අර්ධය නිර්මාණය කිරීමේ කටයුතු අවසන්වීමට ඉතාමත් ආසන්නය. මේ අවසන්වූ විට දැනට ගබඩාවල ඉඩ මදකම නිසා ඇසිරී තිබෙන භාණ්ඩ සෑහෙන සංඛ්‍යාවක් ප්‍රදර්ශනය කිරීමට පිළිවන් වනු ඇත; තදබදය ද තරමක් දුරට සංසිඳෙනු ඇත.

**ප්‍රාග් ඓතිහාසික හා භූගර්භ විද්‍යාංශය.**—එස්. පී. ඒප්. සේනාරත්න මහත්මා භාරයේ තිබෙන ප්‍රාග් ඓතිහාසික අංශය. අධ්‍යක්ෂක තැන විසින් බෙල්ලන් බැඳි පැලැස්සෙන් ලබාගන්නා ලද භාණ්ඩ වලින් වඩාත් විශාල බවට පත්විය. අධ්‍යක්ෂ තැනගේ යෝජනාව පරිදි මෙම භූමිභාගය නව්‍ය ලංකා සිතියමෙහි සර්වේයර් ජනරාල් විසින් ඇතුළත් කරනු ලැබ තිබේ.

මේ භූමිභාගයෙන් ලබාගන්නා ලද ආදර්ශ ද්‍රව්‍ය පිළිබඳව පළවී තිබෙන කොළඹ කෞතුකාගාර ප්‍රකාශන කරා විදේශීය විද්වතුන්ගේ ද අවධානය සෑහෙන පමණ යොමුවීමට පටන් ගෙන තිබේ. කේම්බ්‍රිජ් විශ්ව විද්‍යාලයයේ මහාචාර්‍ය ග්‍රේහැම් ක්ලාක් මහත්මා සවකීය "**ලෝක ප්‍රාග් ඓතිහාස සාරාංශය** (1961)" "World Pre-history, —an Outline" (1961) by Grahame Clarke නමැති කෘතියෙහි මේ ගැන සඳහන් කර ඇත.

පරීක්ෂාකර බැලීම සඳහා බ්‍රිතාන්‍යයේ ස්වාභාවික ඉතිහාස කෞතුකාගාරය වෙත යවනු ලැබූ, මේ භූමිභාගයෙන්ම සොයා ගන්නා ලද මුල් ද්‍රව්‍ය රැස අධ්‍යයනය කරනු ලැබීමෙන් පසුව ආපසු මෙහි එවන ලදී. ඉන් සමහරක් දැනට ප්‍රදර්ශනය කැරේ. බ්‍රිතාන්‍ය කෞතුකාගාරයේ හා කැලිෆෝර්නියා විශ්ව විද්‍යාලයයේ අධිකාරීන් විසින් කරන ලද යථෝක්ත අධ්‍යයනයේ ප්‍රතිඵල 1963 දී පළවනු ඇත. තවද, 1961 දී අධ්‍යක්ෂක තැන බෙල්ලන් බැඳි පැලැස්සෙන්ම සොයාගත් දහහත් හැවිරිදි යුවතියකගේ ඇට සැකිල්ලක් දැනට ප්‍රදර්ශනය වේ. මේ ආදර්ශ ද්‍රව්‍යය පිළිබඳ විස්තරයක් දැන් මුද්‍රණය වෙමින් පවතී.

**ලේඛනගත කිරීම.**—මැණික් ගල් රස කිරා, සෝයාරු ගතකොට ලේඛනගත කරන ලදී.

**සත්ව විද්‍යාංශය.**—ලංකා වන සත්ව දෙපාර්තමේන්තුවේ භාරකාර තැන සඳහා වූ වෘක්ෂලතා හා සත්වාරක්ෂක කමිටුවේ සාමාජිකයෙකු වශයෙන් අධ්‍යක්ෂක තැන පහත සඳහන් යෝජනා එම මණ්ඩලය වෙත ඉදිරිපත් කෙළේය :—

(1) පල්ලේ බැද්ද—මුල්ලේගම ප්‍රදේශය ඇතුළත ප්‍රදේශය අභය භූමියක් වශයෙන් ප්‍රකාශ කිරීම.

(2) මහවැලිගඟේ මඩවගුරු ඔස්සේ ප්‍රදේශය **එලිෆාස් මැක්සිමුස් විල් අලියා** නමැති විශාල උපවර්ගය සඳහා අභය භූමියක් වශයෙන් ප්‍රකාශ කිරීම.

(3) පොලොනා රක ගැනීම.

(4) ලංකාවේ අලින්ගේ හා ඇතුන්ගේ සංඛ්‍යාව දැන ගැනීම පිණිස අලුත උපන් අලි පැටවුන්ගේ අවුරුදු පතා නෙවර බැගින් සංගණනයක් පිළියෙල කිරීම.

**ලංකා සත්ව විද්‍යා සමීක්ෂණය.**—මේ අරමුණ සඳහා වෙන්වැ තුබුණු මුදලින් වැඩි කොටසක් කූඩාරම් හා වෙනත් උපකරණ ලබාගැනීම සඳහා වියදම් කරන ලදී. එහෙත් භාණ්ඩ රසක්ද ලබාගන්නා ලද බැව් ද මෙහි ලා සඳහන් කරනු රිසියෙමි. එම භාණ්ඩ පිළිබඳ විස්තර මෙම වාර්තාවේ අන් තැනෙක පළවේ.

බඩෙහි වරල් විද්‍යමාන වීම හා විද්‍යමාන නොවීම නිසා පමණක් එකිනෙකින් වෙනස්වන ඕෆිසෝපාලුස් ගාඡුචා (Ophicephalus gachu) සහ චානා ඔරියන්ටාලිස් (Channa oriantalis) යන මත්ස්‍ය දෙවර්ගයේ ව්‍යාප්තිය පිළිබඳව කරුණු සමීක්ෂණයෙන් ඉතා ප්‍රයෝජනවත් ප්‍රතිඵල ලැබී ඇත. මේවා ස්පොලියා සිලැනිකා 30 වැනි කාණ්ඩයේ 1 වැනි කොටසේ පළවෙමින් පවතී.

ස්වීඩනයේ ලුන්ඩ් විශ්ව විද්‍යාලයේ මහාචාර්ය පර් බ්‍රින්ක් මහතා (Professor Per Brinck of Lund University, Sweden) ඔිය සගයන් දෙදෙනා වූ හ්‍යුගෝ ඇන්ඩර්සන් (Hugo Anderson) හා ලෙනාර්ට් සිඩර් හෝම් (Lennart Ceder Holm) යන මහතුන් දෙදෙනා සමග මෙහි සැපැමිණ 1962 ජනවාරි මුල සිට එම මාර්තු අවසානය දක්වා යථෝක්ත කාර්යයෙහි නිරත වූයේය. ඔවුහු සත්ත්වද්‍රව්‍ය වැඩි කොටසක් කොඳු ඇට රහිත සත්ත්ව ද්‍රව්‍යය, දිවයිනේ නා නා ස්ථාන වලින් ලබා ගත්හ. මේවායේ නොරතුරු අධ්‍යයනය කිරීමෙන් මෙතෙක් සිදුවී තිබුණු සත්ත්වාක්‍රමණයේ විවිධ අවස්ථා පිළිබඳ විශාල දැනුමක් නිපදවා ගැනීමට නිසැකවම පිළිවන් විය යුතුය. සත්ත්ව විද්‍යා සහකාර තැන්පත් ආචාර්ය පී. එච්. ඩී. එච්. ද සිල්වා මහත්මා හා ඔහුගේ කාර්ය මණ්ඩලය වන රසායනාගාර සහකාර එම්. ජී. රාමවික්‍රම, චම්ශිල්පි, කේ. එල්. ඊ. පෙරේරා සහ වැඩ බලන සහකාර චම්ශිල්පි පී. බී. සරනේලිස් යන මහත්වරු කොළඹ කෞතුකාගාර සත්ත්වවිද්‍යාත්මක භාණ්ඩයන් යථා පරිදි ආරක්ෂාකළ අතර, ආදශීද්‍රව්‍ය නාමලේඛන ගතකිරීමේ හා හඳුනා ගැනීමේ කාර්ය ය ද ඉෂ්ටකළහ. මිරිදිය හා වෙනත් මත්ස්‍යයෝ සහ උරගයෝ 544 ක් ද පක්ෂීහු හා ක්ෂීරපායිගණයේ සත්තු 55 ක් ද අප්තින් එකතු කරනු ලැබූහ. මෙ හැර, යාපනයෙන් ඔබ්බෙහි වූ දූපත්වල වෙරළට ගසාගෙන අවුත් තුබුණු විශා උල් නැති තල් මිසුන් දෙදෙනාගේ මලකුණු වලින් ඇට කටු කොටස් කිහිපයක් ද ලබා ගන්නා ලදී. පොලිකීට් පනුවන් පිළිබඳ පර්යේෂණයන්හි නිරතවීම සඳහා සවකීය කාලයෙන් වැඩි කොටසක් ගතකළ සත්ත්ව විද්‍යා සහකාර තැන විද්‍යාවට නව්‍යවූ වර්ග 9 ක් ද, ලංකා සත්ත්වසංහතියට නව්‍ය වූ වර්ග 16 ක් ද අනාවරණයකරගෙන සිටී. 1 (ඒ) පරිශිෂ්ටය බලනු මැනැවි. හෙතෙම **පෙක්ටිනාරියා (පෙක්ටිනාරියා) පනවා** විලි (Pectinaria (Pectinaria) Panava willey) නමැති වර්ගයට අයත් ආදශියක් මීගමුව කලපුවෙන් සොයා ගෙන ඇත. විශේෂයෙන් **අයිකෝනියා** (Eichornia) නම් ජලජ පැලැටියෙහි සාදෙහි බහුලව දක්නට ලැබෙන **හර්පොබ්ඩෙලොයිඩියා ඉන්ඩිකා** (කබුරාකි) (Herpobdelloidea indica (Kaburaki) • නමැති එරොප්ඩෙලිඩ් (Eropdellid) කුඩැල්ලා ලංකාවේ විද්‍යමාන වන බැව් ද හේ අනාවරණය කරගෙන ඇත.

සත්ත්ව විද්‍යාත්මක ප්‍රදානය :—1 (බී) පරිශිෂ්ටය බැලුව මැනැවි.

**කීට විද්‍යාව.** කීට විද්‍යා සහකාර තැන්පත් ඩබ්ලිව්. ටී. පී. ගුණවර්ධන මහත්මිය වැලිමඩ, හක්ගල, නුවරඑළිය, මහගස්තොට, නෑදුන්ගම, කළුමුලන්ද, බොරලන්ද, බණ්ඩාරවෙල, දියතලාව, කොස්ලන්ද, වැල්ලවාය, බදුල්ල, හල්දුම්මුල්ල, බලන්ගොඩ, රත්නපුර සහ අවිස්සාවේල්ල යන ස්ථාන සැරිසරා, ගණනින් 500කටත් අධිකවූ ආදශී ද්‍රව්‍ය රැසක් සොයා ගත්තාය. ඈ ඒ සියල්ල හඳුනා ගත්තාය. කීටවිද්‍යා සහකාරිණී තොමෝ කීට විද්‍යා අංශයේ අයත්, ගණනින් 1,13,119 ක් වූ, සමස්ත භාණ්ඩ රැසම එම අංශයේ රසායනාගාර තැන්පත්, විශ්‍රාම යන ටී. ආර්. සන්ද්‍රසාගර මහතා වෙතින් භාරගත්තාය. මේ භාරගැනීම කැරුණේ ආදශී 9,446ක් අත්හදාබැලීමේ පරීක්ෂණය කට භාජන කිරීමෙන් පසුවය. ඈ මේ භාණ්ඩ රැස පහත දැක්වෙන පරිදි බෙදා වෙන් කැරැ ඇත :—

| | | | | |
|---|---|---|---|---|
| (1) | ලෙපිඩෝප්ටෙරා | ... | ... | 42,517 |
| (2) | කොලියෝප්ටෙරා | .. | ... | 23,336 |
| (3) | ඕතෝප්ටෙරා | .. | ... | 18,216 |
| (4) | රයින් කෝටා | | .. | 13,766 |
| (5) | හයිමිනෝප්ටෙරා | ... | ... | 7,514 |
| (6) | ඩිප්ටෙරා . . | .. | ... | 6,095 |
| (7) | ඕඩොනාටා | ... | ... | 906 |
| (8) | නියුරෝප්ටෙරා | ... | ... | 296 |
| (9) | ට්‍රයිකෝප්ටෙරා | ... | .. | 222 |
| (10) | සොකෝප්ටෙරා | ... | ... | 69 |
| (11) | අරකිනාඩා | .. | ... | 65 |
| (12) | ප්ල කෝප්ටෙරා | ... | | 60 |
| (13) | එම්බියෝප්ටෙරා | .. | ... | 23 |
| (14) | එෆිමෙරෝප්ටෙරා | .. | ... | 4 |
| | | | | 1,13,119 |

**පයෝෂිපණ.** සමනල විගියට අයත් සතුන් පිළිබඳව කෞතුකාගාර ශාස්ත්‍රීය ලිපියක් සැකැසීමේ අදහසින් කීට විද්‍යා සහකාරිණිය ඔවුන් පිළිබඳ අධ්‍යයනයෙක යෙදී සිටියාය. **සැටර්නයිඩායි** (*Saturniidae*) පවුලෙහි **ජීනස් ඇක්ටියාස්** (*Genus Actias*) වගීයට අයත් ඒකම සත්ව විශේෂයක් පමණක් :—එනම්, **ඇක්ටියාස් සෙලීන්** (*Actias Selene*) ද ඇටකස් (*Attacus*) වගීයට අයත් විශේෂ දෙකක්—එනම්, **ඇටකස් ඇට්ලස්** (*Attacus atlas*) හා **ඇටකස් රිසිනි** (*Attacus ricini*) පමණක් ද ලංකාවෙන් සටහන් කැරගනු ලැබී තිබේ. එමෙන්ම, **ඇන්තෙරියා** (*Antheraea*) නම් වගීයට අයත් බොහෝ විශේෂ වලින් **ඇන්තෙරියා පැෆියා** (*Antheraea paphia*) නම් විශේෂය පමණක් ද, ක්‍රිකියුලා (*Cricula*) වගීයෙන් ක්‍රිකියුලා ට්‍රිෆෙනෙස්ට්‍රාටා (*Cricula trifenestrata*) නම් විශේෂය පමණක් ද සටහන් වී ඇති නමුදු, **සැටර්නයිඩායි** (*Saturniidae*) පවුලටම අයත් වන **ලියෝපා** (*Leopa*) **සැටර්නියා** (*Saturnia*) හා සලස්සා (*Salassa*) වගීවලට අයත් විශේෂයන්ගෙන් කිසිවක් මෙතෙක් ලියා තැන්පත් වී නැත. යථෝක්ත යෝජිත ප්‍රකාශනය නිසා ලංකාවේ සමනල වගීයට අයත් සතුන් පිළිබඳ දැනීම දෙගුණ, තෙගුණ වනු ඇත. එබඳු දැනීමක් කෘෂිකර්මයෙහි ලා එනම්, ධාන්‍ය පරාග පෝෂණය සම්බන්ධයෙන්—ඉතාමත් ප්‍රයෝජනවත් වනු ඇත.

**ඔඩොන්ටෝපුස් වැරිකෝනිස්** නම් ජීවියාගේ ස්වාභාවික පරිසර ජීවගති විද්‍යාව පිළිබඳව සිත්කළු සොයාගැනීම් කිහිපයක් කැරුගෙන ඇත. මෙම ජීවියා කෞතුකාගාර රසායනාගාරයෙහි බෝකරනු ලබයි. හඳුනා ගැනීම සඳහා කෞතුකාගාරය වෙත ගෙනෙන ලද අනේකාදශී අතරෙහි ඉතා දුර්ලභ දලබුවෙක් විය. ඌ මෙහි ගෙනෙන ලද්දේ දෙලොස්බාගේ ස්ටිවන්සන් මහත්මිය විසිනි. කීටවිද්‍යා සහකාරිණිය ඌ **සයිකිඩායි** පවුලට අයත් වූවෙකු වශයෙන් හඳුනා ගත්තාය.

**මානව වංශ විද්‍යාව.** මානව වංශ විද්‍යා සහකාර සී. එම්. ඒ. ද සිල්වා මහතා හෙට්ටි ජනයාගේ ජාතික චාරිත්‍ර වාරිත්‍රවල සම්ප්‍රදායේ ඉතිහාසය පිළිබඳව පර්යේෂණ කරමින් සිටී. ඔහු කළ පරීක්ෂණවලින් එළිදරව්වන කරුණක් නම්, මේ ජාතිය ක්‍රමයෙන් සිංහල හා දෙමළ ජාති දෙක හා මිශ්‍ර වෙමින් අතුරුදහන් වන බවය.

ඔහුගේ වෙනත් පර්යේෂණ වන්නේ උත්පත්තිය, මල්වරවීම, විවාහය, අවමඟුල චාරිත්‍ර, කෘෂිකර්මය, ආගමික චාරිත්‍ර විධිය, භූත විද්‍යා පිළිබඳ ආගමික පුරුදු හා දේවාල පූජාව යන මේවා හා සබැඳි සිංහල ගෘහස්ථ චාරිත්‍ර හා උත්සව පිළිබඳ ව කැරෙන පර්යේෂණ ය. හේ මීගමු දිස්ත්‍රික්කයේ තෝප්පුව, බම්බුකුලිය, දන්කොටුව හා වැලිහේන යන ගම්වලින් ද, කොළඹ අවට ප්‍රදේශ වලින් ද, විෂය කරුණු රැස්කැර ගෙන ඇත. හෙතෙම සාමාන්‍ය දෛනික කටයුතු වලදී ද, ලිපි කටයුතු වල දී ද සහාය වූයේ ය:

**මහාජන ඉල්ලීම්.** කෞතුකාගාර භාණ්ඩවල ඡායාරූප ලබා ගැනීම සඳහා මෙරට හා පිටරට පුද්ගලයන් හා ආයතන මගින් කරන ලද ඉල්ලීම් දෙපාර්තමේන්තුවේ ඡායාරූප රෙගුලාසිවලට අනුකූලව ඉෂ්ට කරන ලදී. පෞරාණික භාණ්ඩ හඳුනාගැනීම හා ඒවායේ තොරතුරු ලබා ගැනීම සඳහා මහා ජනයා විසින් කරන ලද අනේක ඉල්ලීම් වෙත ද අවධානය යොමු කැරිණි.

**පෞරාණික ද්‍රව්‍ය පිටරට යැවීම.** පෞරාණික ද්‍රව්‍ය පිටරට යැවීම සඳහා කරන ලද මහාජන ඉල්ලීම් එකොළොසක් පිළිබඳව, 1940 අංක 9 දරන පෞරාණික ද්‍රව්‍ය ආඥා පණත යටතේ, කටයුතු කැරිණි. මේවායින් වැඩි කොටසක ඇතුළත් වූයේ පෞරාණික අගයෙන් තොර මෑත කාලීන ගෘහ භාණ්ඩ ය.

**මානව වංශ විද්‍යා දෙවැනි සහකාර.** මානව වංශ විද්‍යා දෙවැනි සහකාර නැන්පත් යූ. ඒ. ගුණසේකර මහතා උඩරට ගම්වල සිදුවන සංස්කෘතික ලීලා හා සමාජයීය විපර්යාස පරීක්ෂණයට භාජනය කරමින් සිටී. තවද හේ, මධ්‍යම, සබරගමු, උතුරු මැද හා බස්නාහිර පළාත්වල ගම් ගණනෙකම ක්ෂේත්‍ර අධ්‍යයන රැසක්ම මෙහෙයවා ඇත.

**පුරාවිද්‍යා හා මානව වංශ විද්‍යාව පිළිබඳව ආරක්ෂක හා වැඩ බලන අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර.** මෙම ධුරය උසුලන පී. ඇල මහතා සිංහල දේලා හෙවත් පල්ලැක්කි ගැන විශේෂ අධ්‍යයනයෙක නිරතව සිටී. හේ ස්පෝලියා සිලැනිකාවේ 29 වැනි කාණ්ඩය සඳහා සූචි පත්‍රයක් ද පිළියෙළ කොට ඇත.

**පෞරාණික සිතුවම් පිළිබඳ ආරක්ෂක** නැන්පත් සී. ඒ. අමරසිංහ මහතා බිතුසිතුවම්වල පැරණි පිටපත් ශුද්ධ කිරීමෙහි හා ප්‍රතිෂ්ඨාපනය කිරීමෙහි යෙදුණේය; නොයෙක් අවස්ථාවලදී කෞතුකාගාරයේ දිවා මුරකරුපරීක්ෂක වශයෙන් ද ක්‍රියා කෙළේය.

**චිත්‍ර.** පෞරාණික භාණ්ඩවල හා ක්ෂීරපායි ගණයට අයත් සතුන්ගේ චිත්‍රපොත් සඳහා මුද්‍රණය කරන ලද, ගණනින් 5,202 ක් වූ චිත්‍ර අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර වශයෙන් කටයුතු කරන පී. ඇල මහතා වෙත පැමිරි ඇත.

**කොඳුඇට ඇත්තවුන්ගේ වර්ණ චිත්‍ර පොත් සඳහා සැකැසුණු මූලික පින්තූර හා ඒවායින් සාදගන්නාලද තහඩු.** මේවා පෞරාණික සිතුවම් ආරක්ෂක සී. ඒ. අමරසිංහ මහතා භාරයේ පවතී.

**ආදර්ශ රූප කලාකරු.** පී. විජේසේකර මහතා ස්පෝලියා සිලැනිකාව ද සරසනු පිණිස වර්ණවත් නොමැති චිත්‍ර ගණනක් ප්ලාස්ටර් ආදර්ශරූප කිහිපයක් ද, අමාත්‍යාංශයේ ප්‍රයෝජනය සඳහා පැරණි සිංහල පළාත් කොඩි ගණනක් ද පිළියෙළ කළ අතර, එක් එක් යුගයකට අයත් සිංහල ඇඳුම්වල විවිධත්වය සඳහා පාන චිත්‍ර ගණනක් ද සකසමින් සිටී.

**ක්ෂේත්‍ර සහකාර.** ආර්. බී. අස්මඩල මහතා මහඔය, නිලෝබේ, නුවරඑළිය, පල්ලෙබැද්ද, බෝලාන, ඇත්බැද්දගල, දිරුලාන, කලුවින්න, බිංගොඩ, හේනේ බැද්ද හා

දනිගල යන ස්ථාන වෙත ගොස් නෙළුම් කවි හා ගොවි ගී ඇතුළත් මානව වංශ විද්‍යාත්මක තොරතුරු රැස්කිරීමෙහි නිරත වූයේය.

**සංස්කරණ සහායක.** සී. ඩී. සමරනායක මහතා මානවවංශවිද්‍යා ප්‍රදර්ශක අල්මාරි නැවත පිළියෙළ කිරීමෙහි ලා සහාය විය. තවද, හේ, මුරකරු පරීක්ෂක ආර්. ඒ. සී. පෙරේරා මහතා රාත්‍රිසේවය සඳහා සහකාර මුරකරු පරීක්ෂක වශයෙන් කටයුතු කරනු පිණිස මුදවාහැරීම සඳහා මුරකරු පරීක්ෂක වශයෙන් සේවය කෙළේය.

**මානව වංශ විද්‍යාත්මක වටිනාකමක් සහිත භාණ්ඩ ප්‍රදර්ශණය කිරීම, මිළයට ගැනීම හා රැස්කිරීම.** 1 (සී) පරිශිෂ්ටය බැලුව මැනැවි.

**අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර තැනගේ අංශය.** පුරාවිද්‍යා හා මානව වංශ විද්‍යා ආරක්ෂක පී. ඇල මහතා සිය රාජකාරිවලට අතිරේකව අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර වශයෙන් වැඩ බැලීම සඳහා 1961 නොවැම්බර් 14 වැනි දින සිට පත්කරන ලදී.

**කෞතුකාගාර දේශන මාලා.** ප්‍රසිද්ධ දේශන පෙළක් හා චිත්‍රපට දර්ශණ ගණනක් පිළියෙළ කැරිණි. දේශනා 14ක් සිංහලෙන් ද 37ක් ඉංග්‍රීසියෙන් ද වීය. එසේ පැවැත්වුණු දේශන සියල්ල. එක් එක් දේශනය පැවැත්වූ කෞතුකාගාර නිලධාරියා ගේ නමට යටින් 1 (ජී) දරන පරිශිෂ්ඨයේ සටහන් ව ඇත.

චිත්‍ර පට දක්වන එක්සත් රාජධානිය, අමෙරිකා එක්සත් ජනපදය, කැනඩාව, එක්සත් සෝවියට් සමාජවාදී සමූහාණ්ඩුව, ඕස්ට්‍රේලියාව, ඉන්දියාව, චෙකෝස්ලෝ-වැකියාව, හා ජපානය යන රටවල ප්‍රවෘත්ති සේවාවන්ගේ කාරුණික අනුග්‍රහයෙන් ලැබුණු චිත්‍රපට වලින් සමන්විත විය.

**කෞතුකාගාර ප්‍රකාශන විකිණීම.** 62.3.20 වැනි දින දක්වා මේ කාර්යය සන්දර්ශක යන් දෙදෙනා අතින් ඉටුවිණි. ඔවුන් මෙය සතුටුදායක ලෙස ඉටු කිරීමට අපහසු බැව් පළකෙළෙන්. අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර තැන එය ද ඉටුකරයි.

**ප්‍රකාශන.** ජාතික කෞතුකාගාර සංග්‍රහය වන ස්පෝලියා සිලැනිකාවේ 30 වැනි කාණ්ඩයේ දැනට මුද්‍රණය වෙමින් පවතින 1 වැනි කොටසේ පළවන පර්යේෂණ ලිපි, ඒවා සම්පාදනය කළ කෞතුකාගාර නිලධරයන්ගේ නම් යටින් I (ඊ) දරන පරිශිෂ්ටයේ දැක්වී ඇත.

**වෙනත් කෞතුකාගාර ප්‍රකාශන හා සාහිත්‍ය සම්පාදන.** 1 එච් පරිශිෂ්ටය බලනු මැනැවි.

**සම්පාදනය වෙමින් පවත්නා ප්‍රකාශන.** දක්ෂිණ ආසියාව ගැන විශේෂයෙන් සඳහන් කරමින් විපරිණාමය හා මානව විද්‍යාව පිළිබඳ කෘතියක් බිහි කිරීමට අධ්‍යක්ෂක තැනට හැකිවීම පිණිස ගරු ඇමතිතුමන්ගේ අනුදැනීම ලබාගත්තා ලදී. මේ කෘතිය කාණ්ඩ දෙකකින් වශයෙන් පළවනු ඇත.

පළමුවෙනි කාණ්ඩය පරිණාමය හා ප්‍රාග් ඉතිහාසය පිළිබඳව, ලියැවෙන අතර දෙවැනි කාණ්ඩය ඓතිහාසික යුගය පිළිබඳව ලියැවෙනු ඇත. සිංහල හා ඉංග්‍රීසි දෙබසින්ම පළවන මේ කෘතියේ පළමුවැනි කාණ්ඩයේ ලංකාව පිළිබඳ පරිච්ඡේද සැරසීම සඳහා අවශ්‍ය තහඩු චිත්‍ර බොහොමයක් දැනටමත් සම්පූර්ණව ඇත.

(II) **සත්ව විද්‍යා සිතියම් පොත.**—ලංකාවේ ක්ෂීරපායි ගණයේ සතුන්ගේ සිතියම් පොතේ මුල් පිටපත දැනට පිළියෙල වෙමින් පවතී.

(III) **පොරාණික ද්‍රව්‍ය සිතියම් පොත.**—මේ සිතියම් පොතේ මුල් පිටපත ද දැනට සම්පාදනය වෙමින් පවතී. මෙය ස්පෝලියා සිලැනිකාවේ මූලික ලිපි පෙළක් වශයෙන් පළවේ. උභය සිතියම් පොතම සරසනු පිණිස පාට චිත්‍ර ගණනක්ම අඳිනු ලැබ තිබේ.

(IV) **ඕලන්ද ගෘහභාණ්ඩ පිළිබඳ නිබන්ධය.**—ආචාර්ය ජෝසප් පියර්සන් මහතා අධ්‍යක්‍ෂව සිටි කාලයේ පටන්ගත් යථොක්ත කාර්‍ය්‍ය අවසන් කරන්නේදැයි ස්ථිර වශයෙන් දැනගනු පිණිස කෞතුකාගාර උපදේශක කමිටුව යැවූ ලිපියට පිළිතුරක් නොලද හෙයින්, එම කාර්යය ඉටු කිරීමට භාර දෙන ලෙස කමිටුව 1962 මැයි 25 දින අධ්‍යක්‍ෂක තැන වෙත උප දෙස් නිකුත් කළාය.

**සන්දර්ශකයෝ.**—අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන අංශය නව වැඩ බලන අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර තැන විසින් භාරගනු ලැබීමෙන් සමසකට පසුව සන්දර්ශකවරුන් දෙදෙනා සේවය කළ කාණ්ඩායම් ගණන නිවැරදිව සටහන් කර ගැනීම සඳහා ක්‍රමයක් නිපදවා ගන්නා ලදී. මේ ක්‍රමය සතුටුදායක ලෙස ක්‍රියාත්මකවේ. මෙය නිපැදුණේ 1962 මාර්තු 20 වැනි දින හෙයින්, 1962 සැප්තැම්බර් 30 වැනිදැයින් අවසන් වන කාලපරිච්ඡේදය තුළදී සටහන් වූ වැඩ පහත දැක්වේ.

| | සන්දර්ශක තැන<br>සිංහල | <br>දෙමළ |
|---|---|---|
| පාසැල් කණ්ඩායම් (සිංහල හා ඉංග්‍රීසි) ... ... | 41 ... | — |
| පාසැල් කණ්ඩායම් (දෙමළ හා ඉංග්‍රීසි) ... .. | — ... | 39 |
| පාසැල් කණ්ඩායම් හැර විදේශීය හා මෙරට නරඹන්නෝ . | 13 ... | 16 |
| පිටරට පාසල් හා ගුරු මණ්ඩල ... . | — ... | 7 |
| **කණ්ඩායම් මුළු සංඛාව** ... ... .. | 54 | 62 |
| පුද්ගලයන්ගේ මුළු සංඛ්‍යාව .. . . ... | 2,404 | 2,271 |

## පුස්තකාලය

**පාඨක අවසරපත්.**—162ක් නිකුත් කැරිණි.

**අත්හැර ගැනීම්.**—පොත් කාණ්ඩ 24ක්ද, පංක්ති වශයෙන් පළවන පොත්වල කොටස් 438ක්ද මිලයට ගන්නා ලදී. ප්‍රකාශන අයිතිය පිළිබඳ ආඥාපනත යටතේ ප්‍රකාශන 4,314ක් පුස්තකාලය වෙත ලැබිණි.

**හුවමාරුකැර ගැනීම්.**—ලංකා ජාතික කෞතුකාගාර විද්‍යා සංග්‍රහය වන ස්පෝලියා සිලැනිකාව වෙනුවෙන් රුපියල් 15,000ක් පමණ වටිනා ප්‍රකාශන හා පොත් 1,407ක් මෙහි ලැබිණි.

**බඳිනු ලැබූ පොත්.**—පොත් 352ක් රජයේ මුද්‍රණාලයාධිපති තැන විසින් බඳිනු ලැබිය.

පුස්තකාල පොත් බඳින්නා විසින් පොත් 141ක් අළුත්වැඩියා කරන ලදී.

**ප්‍රදායකයෝ හා ප්‍රදානය ලැබුවෝ.**—I (ඊ) පරිශිෂ්ටය බලනු මැනැවි.

## විශේෂ කටයුතු

යූ. එස්. ෆ්‍රෙන්ඩ්ෂිප් 7 අභ්‍යාවකාශ යන්ත්‍රය, 1962 පෙබරවාරි මස 20 වැනි දින ලෙප්ටිනන්ට් කර්නල් ජෝන් එච්. ග්ලේන් (කණිෂ්ඨ) මහතා ලෝකය වටා ගිය ඒ ඓතිහාසික ගුවන් චාරිකාව ඉටුකිරීමට උපකාරිවූ යූ. එස්. ෆ්‍රෙන්ඩ්ෂිප් 7 අභ්‍යාවකාශ යන්ත්‍රය කෞතුකාගාරයෙහි ප්‍රදර්ශනය කිරීම සඳහා අවශ්‍ය පහසුකම් සපයන ලදී. කොළඹ කෞතුකාගාර භූමිභාගයෙහි පැවැත්වූ මේ ප්‍රදර්ශනය 1962 ජූනි 28 සිට 30 දක්වා පැවැත්තේය. මේ ප්‍රදර්ශනය පැවැත්වෙන අතරම, අභ්‍යාවකාශ ගමනේ සම්පූර්ණ මාර්ගයම විදහාපාන චිත්‍රපටයක් කොළඹ කෞතුකාගාර දේශන ශාලාවේදී ප්‍රදර්ශනය කරන ලදී. ප්‍රදර්ශනය ඉතා සාර්ථක එකක් වූ අතර දිවයිනේ නා නා පෙදෙස් වලින් විශාල සෙනගක් එය බැලීම සඳහා කොළඹ වෙත ඇදී ආහ.

## සාමාන්‍ය

**ආරක්ෂා සංවිධාන.**—පොලිස් මුර සේවය ආපසු ලබාගැනීම සඳහා අධ්‍යක්ෂක තැනගේ පළමු ඉල්ලීම නැවත අළුත් කරන ලෙසත්, එය අසාර්ථක වුවහොත්, යුද්ධ හමුදා හෝ නාවික හමුදා රැකවරණයක් ඉල්ලා සිටින ලෙස කෞතුකාගාර උපදේශක කමිටුව අධ්‍යක්ෂක තැන වෙත උපදෙස් දුන්නාය. මුර සේවා කාර්යක්ෂම භාවය වැඩි දියුණු කිරීම පිණිස මුරවාර සටහන් වින ඝෝරා යතුරු තුනක්ද සවිකැරිණි.

කෞතුකාගාරය වටා දිනපතා මුර සංචාරයේ යෙදීම පිණිස සාමාන්‍ය ඇඳුම් හැඳි කොස්තාපල් වරුන් දෙදෙනෙකු එවන ලෙස පොලිසියෙන් ඉල්ලීමක්ද කැරිණි.

**දෙපාර්තමේන්තුවේ පර්යේෂණ වැඩ ගැන කරුණු සඳහන්.**—බ්‍රිතාන්‍යයේ පළවන ඉතා වැදගත් විද්‍යාත්මක සඟරාවක් වන නේචර් (nature) නමැති සඟරාවේ 196 වැනි කාණ්ඩයේ 1962 නොවැම්බර් 3 වැනි දින එළිබට අංක 4853 දරණ කලඹෙහි 17 වැනි පිටුවේ මේ දෙපාර්තමේන්තුවෙන් කැරුණු පර්යේෂණ වැඩ ගැන මෙසේ සඳහන් වේ.

"ලංකා ජාතික කෞතුකාගාර අධිකාරීහු පර්යේෂණ සවකීය කටයුතුවල එක් අත්‍යවශ්‍ය අංගයක් වශයෙන් එක හෙලා පිළිගනිති. ලංකා ජාතික කෞතුකාගාර විද්‍යා සංග්‍රහය වන ස්පෝලියා සිලැනිකාවේ අළුත්ම එළි දැකීම වන 1962, 29 වැනි කාණ්ඩයේ II වැනි කොටස ඔවුන්ගේ කටයුතුවල වටිනාකම ගැන නැවත නැවතත් දෙස් දෙයි. භූගර්භ විද්‍යාව, සත්ව විද්‍යාව, හා මානව විද්‍යාව පිළිබඳ ලියැවුණු ශාස්ත්‍රීය ලිපි මේ කලඹෙහි අන්තර්ගත වේ. මින් වැඩි හරියක් ලියැවී ඇත්තේ අධ්‍යක්ෂක ආචාර්ය පි. ඊ. පි. දැරණියගල මහතාණන් විසිනි. ඒවා මනා ලෙස සම්පාදිතව ඇති අතර චිත්‍රවලින් ද සැරසී ඇත."

(II) නිව්යෝක් නගරයෙහි කොලම්බියා විශ්ව විද්‍යාලයයේ භූගර්භ විද්‍යා අංශයේ මහාචාර්ය රෝඩ්ස් ඩබ්ලිව්. ෆේයාබ්‍රිජ් මහතා 1961 අගෝස්තු මස 16 වැනි දින අධ්‍යක්ෂක වෙත ලියමින් මෙසේ සඳහන් කරයි :—

"ලංකාවේ ප්ලයිස්ටොසීන යුගය, නමැති ඔබගේ ශ්‍රේෂ්ඨ නිබන්ධයේ පිටපතක් මම අහම්බෙන් මෙන් දුටුමි. මෙය සමස්ත ඉන්දියන් සාගර ප්‍රදේශය පිළිබඳව පළවුණු ඉතා වැදගත් කෘතීන් ගෙන් එකෙකි. ඉතිරිවැ ඇතොත්, පිටපතක් මා වෙත ලැබේ නම්, ඒ ඉතා අගය කොට සලකමි."

හෙතෙම වැඩිදුරටත් මෙසේ සඳහන් කරයි.

"ඉන්දියන් සාගරය පිළිබඳව මා කළ අධ්‍යයන වලින් පෙනී යන කරුණක් ඇත. එනම් ඔබ විසින් ප්ලයිස්ටොසීන යුගයෙහි අවසාන භාගයට අයත් මුලදී තැන්පත්වූ දේවල් අතුරින් සොයාගන්නා ලද ෆොසිල්, විශේෂයෙන්ම ත්‍රිදක්න කටු අංගාර 14 තුල්‍ය කාලයෝජනය සඳහා යෝග්‍යවේය යන්නයි.

## මහනුවර ජාතික කෞතුකාගාරය

**නරඹන්නෝ.**—නරඹන්නෝ 2,58,519ක් පමණ කෞතුකාගාරය නැරඹූහ.

**උපදේශක කමිටුව.**—වසර ඇතුළත උපදේශක කමිටු රැස්වීම් සතරක් පැවැත්විණි. මේ කමිටුවෙහි අවුරුදු බොහෝ ගණනක් සේවය කළ එච්. බී. රඹුක්වැල්ල දිශාව මහතාගේ අභාවය ගැන සාතිශය සංවේගය පළකිරීමේ යෝජනාවක් කමිටුව 61.10.20 වැනි දින සම්මත කළාය. මුලදී කෞතුකාගාර පාලක සභාවේ සාමාජිකයෙකුව සිටි එම්. බී. නාමධාරී අතිගරු විලියම් ගොපල්ලව මැතිතුමන් ශ්‍රී ලංකාණ්ඩුවකාර පදවියට පත්වීම නිමිත්තෙන් සුබ පැතීමේ යෝජනාවක්ද කමිටුව විසින් 62.6.29 වැනි දින සම්මත කැර ගන්නා ලදී.

දර්ශනශාලා සේවකයෙකු වශයෙන් අවුරුදු දහහතකට ආසන්න කාලයක් දෙපාර්තමේන්තුවට හිතවත් ලෙස සේවය කළ ඒ. කේ. රංහාමි මහතා අභාවප්‍රාප්ත විය. ඔහුගේ අභාවය මුළු කාර්ය මණ්ඩලය වෙතම තදින් බලපෑ එකක් විය.

1953 දී ඉවත් කැර ගන්නා ලද පොලිස් මුර සේවය නැවත පිහිටුවා ගැනීම අත්‍යවශ්‍ය බැව් කමිටුවට 62.1.26 වැනි දින රැස්වී කල්පනා කළාය. එසේ කොට, දිවා හා රාත්‍රී ආරක්ෂක සේවයක් ලබා ගැනීම පිණිස මහන්සි වන ලෙස අධ්‍යක්ෂක තැනගෙන් බලවත්ව ඉල්ලා සිටියාය.

**කෞතුකාගාර ගොඩනැගිලි.**—ආරක්ෂා උපායන් වශයෙන් බාහිර බිත්තිවල වෙනස් කම් කිහිපයක් කරන ලදී.

**මානව වංශ විද්‍යාව.**—ලේඛනගතකිරීමේ අවශ්‍යතාවයන් සඳහා වඩා අගනා භාණ්ඩවල ඡයාරූප ගන්නා ලදී.

**ප්‍රදර්ශන භාණ්ඩ.**—මේ දක්වා ගබඩාවල ඇසිරී තුබුණු භාණ්ඩ ප්‍රදර්ශනය කිරීම හේතුකොටගෙන ප්‍රදර්ශන භාණ්ඩ සංඛ්‍යාව බහුල විය. මේවා අතර නැවත පිළියෙළ වූ ඇත්දත් භාණ්ඩ රැසක්ද වේ.

**පුස්තකාලය**—පාඨකයෝ 152ක් මෙහි ඇති කුඩා පුස්තකාලයෙන් ප්‍රයෝජන ගත්හ. නුවර වැව අසබඩ පිහිටි, දැනට එක්සත් සේවාවන් පදිංචිව සිටින "උල් පැන්ගේ" නමැති ගොඩනැගිල්ල ලබාගෙන මේ අංශය දීර්ඝ කිරීමට අදහස් කැරේ.

**ටෙල්-වේල් හෝරායන්ත්‍ර.**—මුර සේවා කාර්යක්ෂමභාවය වැඩි දියුණු කරනු පිණිස මේ හෝරා යතුරු දෙකක් සවි කරන ලදී.

මානව වංශ විද්‍යාත්මක අගයක් ඇති භාණ්ඩ අත්කැර ගැනීම්: II දරණ පරිශිෂ්ටය බැලුව මැනවි.

## රත්නපුර ජාතික කෞතුකාගාරය

**නරඹන්නෝ.**—11,975 පමණ දෙනෙක් කෞතුකාගාරය බැලූහ.

**කාර්ය මණ්ඩලය.**—ආර්. වී. ගුණසේකර මහතා 9 වැනි අඛණ්ඩ වසියටත් ආරක්ෂක තැන වශයෙන් වැඩ බැලීය.

**පුරා සත්ව විද්‍යාව : හෙක්සප්‍රොටොඩොන් සිංහලෙයුස්** නමැති ලංකා හිපපොමස්ගේ හක්කක වම් අඩිය එහි ඉස්සරහ දත් තුනක්ද සහිතව ඇල්ලාවල, මනම්ඇල්ලේදී වැඩ බලන ආරක්ෂක තැන හා කේ. එච්. දියෝනිස් මහතා විසින් 61.11.9 වැනි දිනදී සාරාගනු ලැබීය. (තහඩු චිත්‍රය ii රූපය 2) මෙය කොළඹ කෞතුකාගාරයේ එෆ්. 62.6.40 යටතේ ලේඛනගතව ඇත. සම්පූර්ණ හක්ක දැන් ප්‍රතිනිර්මිතව ඇත. (තහඩු චිත්‍රය ii රූපය 1).

අධ්‍යක්ෂක තැන කල්පනා කොට ඇඹූ **පැලියොලොක්සොඩොන් නැමැඩිකුස්** නමැති විදව්ගිය අලියාගේ ප්‍රතිනිර්මාණයෙකු, ලී කැටයමක ප්ලාස්ටර් කෘතියක් ප්‍රදර්ශනය සඳහා සකස්කරන ලදී. මේ කෘතිය කොළඹ කෞතුකාගාර එෆ් 63.1.40 යටතේ ලේඛනගතවී ඇත. මේ සතුන් දෙදෙනම අවුරුදු 5,00,000 ට පූර්ව ලංකාවේ වාසය කළෝ වෙන්නට පිළිවන.

1962 ජනවාරි මාසයේදී, ඇල්ලාවල නමම්ඇල්දී සාරා ගන්නා ලද **බිබෝස්සිංහලෙයුස්** නම් ලංකා ගවරාගේ ගල් වූ අං කොවුල් හා හිස් කබලක මුදුනක් වැඩ බලන ආරක්ෂක තැන මිළයට ගෙන කොළඹ කෞතුකාගාරය වෙත එවීය. මෙය කොළඹ කෞතුකාගාරයේ ලේඛන ගත අංක එෆ් 62.4.39 වේ.

2*——ආර් 9339 (63/4)

ලංකා සිංහයෙකුගේ දතක් හා මුවෙකුගේ හිස්කබලක කොටස් මැණික් පතල වලින් සොයාගන්නා ලදුව පිළිවෙළින් රත්නපුර මුවගම වී. සිරිසේන, ඇහැලියගොඩ, කොටේගොඩ ජේ. ඇම්. ජයමාන්න යන මහත්වරුන්ගෙන් මුරකරු එච්. ජයසුන්දර මහතා විසින් මිළයට ගන්නා ලදී.

පහත සඳහන් පෙදෙස්වල මැණික් පතල වලින් වෙනත් පොසිල් සංඛ්‍යාවක් ලබා ගන්නා ලදී.

මුවගම, හල්දොල, කරන්ගොඩ, කොරටක්විල, ඊදන්ඩෙවෙල, කොස්ගොඩ, දොඩම්පෙ, කහෙන්ගම, එල්ලාවල, ඇහැලියගොඩ, පැල්මඩුල්ල, ගම්බැල්ලා වලවුව සහ මොණරාගල අසළ ඔක්කම්පිටිය.

හබැස්ස මූකලාන, කුඹුක්කන්ඔය හා ඔක්කම්පිටිය වෙත යවනු ලැබූ ආදර්ශ ද්‍රව්‍ය රැස්කරු ඩී. ඩී. පියදාස මහතා උප පොසිල් සත්ව ශේෂ කිහිපයක්, ගල් ආවුධ කිහිප යක් හා කැබිලිති කටු විශාල රුසක් ගෙන ආවේය.

**ප්‍රාග් ඉතිහාසය.**—වැඩ බලන ආරක්ෂක නැනාගේ භාරකාරත්වයෙන් යුත් කණ්ඩාය මක් රත්නපුර දිස්ත්‍රික්කයේ පල්ලෙ පන්නුවේ, කුකුල් කෝරළේ, ගවරගිරියේ පිහිටි මානෙල ගල්ලෙන පරීක්ෂා කළෝය. මේ ලෙන අඩි 68½ක් දිගය, අඩි 43ක් පළලය, අඩි 150ක් උසය. මෙහි බිම අළු හා සමාන ද්‍රව්‍යයකින් ආවරණය වී තිබිණි. අඩි 3ක් අඩි 7ක් පමණ ගැඹුරට කණින ලදී. මේවායින් ගොළුබෙලි හා වෙනත් නොයෙක් කටු, සත්ව ශේෂ, ගල් මෙවලම්, ඇටමූවා උල්කටු හා අඟුරු සමුව්ය.

සබරගමුව පළාතේ බුත්කන්ද, ඉත්තෑකන්ද හා බුළුතොට පිහිටි ලෙන් 8 කින් තිරුවාණ හා කහද ගලින් නිමැවුණු මෙවලම් සොයාගන්නා ලදී.

කිතුල්ගල් මහබාගේ අසල පිහිටි, අඩි 60 × අඩි 120 × අඩි 12 පමණ වූ, බෙලි ලෙන නමැති ගුහාවෙහි අත්හදා බැලීමේ අගලක් කණින ලදී. මින් ගොළුබෙලි කටු හා වෙනත් සත්ව ශේෂ, ගල් හා තිරුවාණ ආයුධ හා කැබිලිති කටු ලබාගැනීමට පිළිවන් විය. අධ්‍යක්ෂක නැන 1962 අගෝස්තු මාසයේදී මේ ස්ථානය නරඹා. තවත් භාණ්ඩ රැස්කැරු ගන්නේය.

**ශ්‍රීපාදය අසළ පිහිටි භගවාලෙන.**—රත්නපුර කෞතුකාගාර උපදේශක කමිටුවේ 8 වැනි රැස්වීමේ නිර්දේශය අනුව මාරපන ශාස්ත්‍රෝදය පිරිවෙණෙහි ගෞරවාර්හ කිරි ඇල්ලේ ඥාණවිමල ස්ථවිරයන් වහන්සේ. සහකාර ආරක්ෂක හා ආදර්ශ ද්‍රව්‍ය රැස් කරු යන මේ අයගෙන් සැදුම්ලත් ඒකාබද්ධ කණ්ඩායමක් යථෝක්ත භගවාලෙන සෙවීමේ කටයුත්ත ඇරඹූහ. මේ ලෙන හැටන් පාරේ වම් පැත්තට හුරුව, කඳු මුදුනට අඩි 300කට පමණ පහළින් පිහිටා ඇති බැව් ඔවුහු සොයාගත්හ. ලෙන අඩි 46ක් දිගය. අඩි 9ක් උසය. අත්හදා බැලීමේ අගල්වලින් කැණගන්නා ලද ද්‍රව්‍ය III දරන පරිශිෂ්ටයේ දැක්වේ.

**සත්ව විද්‍යාව.**—මිරිදිය මසුන් හා ගොළුබෙලි වැනි සතුන්ගේ කටු වලින් සමන්විත දැනට පවත්නා භාණ්ඩ රැස. රත්නපුරය අවට පිහිටි කැලෑවලින් සොයාගන්නා ලදී. ආදර්ශ 123ක් එකතු කිරීමෙන් විශාල කරන ලදී. **ඕෆිසෙෆාලුස් ගාචුවා (Ophicephalus gachua)** හා **චන්නා ඔරියන්ටාලිස් (Channa orientalis)** නම් සර්ප විශේෂ දෙකට අයත් හිස් රුසක් බලන්ගොඩ, බෙලිහුල්ඔය, හල්දුම්මුල්ල, පනගම හා ඇල යන ස්ථානවලින් සොයාගන්නා ලදුව මේ සත්ව දෙවර්ගයේ ද්වීපව්‍යාප්ත සමීක්ෂණයක් සඳහා කොළඹ කෞතුකාගාරය වෙත යවන ලදී. මුළු ආදර්ශ ද්‍රව්‍ය ගණන 45කි.

## මානව වංශ විද්‍යාව

**මිළයට ගැනීම්.**—මානව වංශ විද්‍යා සහකාර සි. එම්. ඔස්ටින් ද සිල්වා මහතා සහ වැඩ බලන ආරක්‍ෂක ආර්. වී. ගුණසේකර මහතා එල්ලාවල ආර්. එන්. ගබ්ඩ්ඩ්වියා මහතාට අයත්ව තුබුණු මානවවංශ විද්‍යාත්මක හා වෛද්‍ය පුස්කොළ ග්‍රන්ථ රුසක් 62.5.25 වැනි දින පරීක්‍ෂා කැර බැලූහ. පුස්කොළ හස්ත ලේඛන 20ක් රුපියල් 401ක් ගෙවා රත්නපුර ජාතික කෞතුකාගාර පුස්තකාලය සඳහා මිළයට ගන්නා ලදි.

පුස්තකාලය නවත් ප්‍රකාශන 6ක් එකතු කිරීමෙන් විශාල කරන ලදි. සම්පූර්ණ ලැයිස්තුව සඳහා III (ඒ) පරිශිෂ්ටය බැලුව මැනැවි.

**පුස්තකාලය.**—පාඨකයෝ නවත් වැඩි දෙනෙක් පුස්තකාලය පරිහරණය කළහ.

**වෙල්-වෙල් ඔර්ලෝසු.**—මුර සේවයේ කාර්යක්‍ෂම භාවය වැඩි කරනු පිණිස මේවා යින් එකක් සවි කරන ලදි.

**අත්කැර ගැනීම්.**—පුරා සත්ව විද්‍යාත්මක, ප්‍රාග් ඓතිහාසික හා මානව විද්‍යාත්මක, හා සත්ව විද්‍යාත්මක අගයකින් යුක්ත භාණ්ඩ ප්‍රදානය කිරීම් හා මිළයට ගැනීම් මෙන්ම කෞතුකාගාර නිලධාරීන් විසින් කරන ලද රුස්කිරීම් ද III (බී) සිට III (එච්) දක්වා වූ පරිශිෂ්ටයන්හි දැක්වී ඇත.

## යාපන ජාතික කෞතුකාගාරය

**නරඹන්නෝ.**—53,318ක් වූහ.

**සත්ව විද්‍යාව.**—අරියලායි, පන්නායි, කරසියුර්, නල්ලූර්, නවත්තුරෙයි, කල්වියාන් කඩු, කොලුම්බුතුරෙයි, වේලනායි, ඩෙල්ෆ්ට්, ආදී ස්ථානවලින් සත්ව විද්‍යාදර්ශ 148ක් රුස්කරගන්නා ලදි. මුහුදු පණුවෝ දහ දෙනෙක් සොයා ගන්නා ලදහ.

**රාජ්‍ය භාෂාවට මාරු වීම.**—ප්‍රදර්ශන භාණ්ඩ බොහෝ ගණනක් සඳහා සහකාර ආරක්‍ෂක තැන්පත් ඒ. සි. ඇම්. රෂිඩ් මහතා විසින් සිංහල හැඳින්වීමේ පත් පිළියෙල කරන ලදී.

**ආරක්‍ෂක සංවිධාන.**—වෙල්-වෙල් හෝරා යතුරක් සවිකැරිණි.

**අත්කැර ගැනීම්.**—මානව වංශ විද්‍යාංශය සඳහා කැරුණු අත්කැර ගැනීම් IV දරන පරිශිෂ්ටයේ දැක්වේ.

**ප. ඒ. ප. දැරණියගල,**
**ජාතික කෞතුකාගාර අධ්‍යක්‍ෂක.**

1963 පෙබරවාරි මස 1 වැනි දින,
කොළඹ 7, ජාතික කෞතුකාගාර දෙපාර්තමේන්තුවේ දීය.

## 1 වැනි පරිශිෂ්ටය

### කොළඹ ජාතික කෞතුකාගාරය

### ප්‍රාග් ඉතිහාස අංශය

ගඟුර්භ විද්‍යාත්මක ප්‍රදාන

| ප්‍රදායකයාගේ නම හා ලිපිනය | | වස්තුව | කොළඹ කෞතුකාගාර ලේඛිත අංකය |
|---|---|---|---|
| ඒ. ඒ. විජේසූරිය මහත්මා, හල්පේ, මීරිගම | .. | . ක්වෝට්ස් ඇමතිස්ට් . . | එම් 533 |
| ඒ. ඒ. විජේසූරිය මහතමා, හල්පේ, මීරිගම | ... | . රොක් ක්‍රිස්ටල් ... | එම් 534 |

## 1 වැනි පරිශිෂ්ටයේ (ඒ) කොටස

### කොළඹ ජාතික කෞතුකාගාරය

### සත්ව විද්‍යාංශය

අනාවරණය කැර ගැනීම

**නව පොලිකීට් පණුවෝ**

**පායුරිනෝයි පිටිපනෙන්සිස්** නව්‍ය විශේෂය (මුවු මංඩිය මීගමුව, පිටිපන.)
**නියැන්තේස් නිගම්බොයෙන්සිස්** නව්‍ය විශේෂය (මීගමු කලපුවෙනි.)
**ග්ලයිසෙරා ලිටෝරියා** නව්‍ය විශේෂය (බටගිර වෙරළෙනි.)
**අවුජිනිරියා ඩේයි** නව්‍ය විශේෂය (පිටිපන, මීගමු කලපුව)
**පුලියෙලා සියුඩෝආමාටා** නව්‍ය විශේෂය (කල්කුඩා)
**ස්පිරෝර් බිස් (ලියෝඩෝරා) නයිට් ජෝන්සි** නව්‍ය වර්ගය (කල්කුඩා)
**නයිනෙරෙයිස් කල්කුඩෙන්සිස්** නව්‍ය වර්ගය (කල්කුඩාව)
**බ්‍රෑන්කියොකැපිටෙල්ලා ජලූරිඩෙන්ටේටා** නව්‍ය වර්ගය (මුල්ලිකුලම, යාපනය)
**ඩැසිකොන් සෙරෙයිරායි** නව්‍ය වර්ගය (පුත්තලම් කලපුව)
**පැරලෙපිඩොනෝටුස් ඇම්පුලිෆේරුස්** හෝස්ට්, **නෙරෙයිස් චිල්කයෙන්සිස් සදර්න්,**
**නෙරෙයිස් ටුග්‍රිපාසියාටා** විලී, **ටයිලොනෝරෙයිස් බොගොයෝලෙන්ස්කී ෆේජ්වල්,**
**ලියොනේට්ස් ජබුසියෝමෙයි** ග්‍රේවියර්, **නෙරෙයිස් (සෙරටොනෝරයිස්) බර්මෙන්සිස්** මොන්රෝ,
**නැමලිකැස්ට්ස් ඉන්ඩිකා** සදර්න්, **නෙප්තිස් පොලිබ්‍රෑන්කියා** සදර්න්,
**ඇක්සියෝනෙලා අවුස්ට්‍රාලිස්** අවුජෙනර්, **නෙරයින් සිරාටුලස්** ඩෙල් චියාජේ
හෙටරොස්ටොප්‍රාටුස් **සිමිලිස්** සදර්න්, **ස්කොලෙලෙපිස් ඉන්ඩිකා** ෆේජ්වල්,
**පොටමිල්ලා ලෙප්ටොකීටා** සදර්න්,
**මාෆිසා මොසැම්බිකා (පීටර්ස්)**, **හලා පාර්තොනෝපියා** සැවග්නි,
**ප්‍රයොනෝස්පයෝ සිරිෆේපරා** වීරෙන් හා **ඕබොන්වෝසිලිස් ශෲවෙල්සි** ෆෝවල්,

## 1 වැනි පරිශිෂ්ටයේ (බී) කොටස

### කොළඹ ජාතික කෞතුකාගාරය

### සත්ව විද්‍යාංශය

ප්‍රදාන

| ප්‍රදායකයගේ නම හා ලිපිනය | ප්‍රදානයේ ස්වභාවය |
|---|---|
| එෆ්. ඔබේසේකර මහත්මා, රාජගිරිය–කොළඹ . . | ඇක්ස්පිටර් බෙඩියුස් බෙඩියුස් ආදර්ශ 4 ක්. |
| ජේ. ආර්. එස්. හෝම්ස් මහත්මා, වාටර්ඩ් බැංකුව, කොළඹ | කටපල්ලා ගලයින් රඩ්ඩි ආදර්ශයක්. |
| දෙස්තර ලිෂියන් ඩී. සිල්වා, "ෆ්‍රී වොජ්ස්", හල්ගලාලුව | පුරවනලද ථානිස් ක්‍රසිකවුඩාටා නම් සතෙක්. |

## 1 වැනි පරිශිෂ්ටයේ (සී) කොටස

### කොළඹ ජාතික කෞතුකාගාරය

### මානව වංශ විද්‍යාංශය

අත්කර ගැනීම්

I. ප්‍රදාන :

| ප්‍රදායකයාගේ නම හා ලිපිනය | භාණ්ඩය | කොළඹ කෞතුකාගාර ලේඛිත අංකය |
|---|---|---|
| දෙස්තර සී. එච් ගුණසේකර මහතා, "රොක්සනා", 242, හැව්ලොක් පාර, කොළඹ 5 | විෂ කැවුණු මලයානු කඩුවක් හා කොපුවක්, විශේෂ මෝස්තර සහිත කෝෂයක් ද සමඟ ය. | 8-62—1—13 |
| සිරිල් සේනාරත්න මහතා, දුමුන්න, පිටකෝට්ටේ | (i) පැරණි පැතැලි උළු කැබැල්ලක් .. (ii) ආයතචතුරශ්‍රාකාර කුඩා ගඩොලක් | 21-62—1-37 |
| ගෞරවාර්හ ජී. ගුණරතන ස්ථවිර, වීරසිංහ සංඝාවාසය, වල්පොල, මාතර | මාර්ක් දහයේ ජර්මන් මුදල් පතක් . | 2-61—1-26 |
| ඒ. ඒ. විජේසිංහ මහතා, හල්පේ, තීරිගම .. | උතුවන්කන්දේ සරදියෙල් පාවිච්චි කළැයි කියැවෙන පැරණි කඩුවක කොටසක් | 8-61-1-13 |
| සුබසිංහ අප්පුහාමිල්ලාගේ සේපාල මහතා, ගස්පේ, ඉහළගම, බාඳුරාගොඩ | පිළි හැලිය නමින් දන්නා ලද විශාල මැටි වළඳක් | 21-61-187-35 |
| බී ඕදිරිස් මහතා, කිතුල්කොටේ, නණමල්විල | පැරණි මැටියෙන් නිමැවුණු පලනල මහක මූට්ටු තුනක් | 21-62—3-38 |

II. මිළයට ගැනීම් :

| | |
|---|---|
| පිළිමයක කැටයම් කරන ලද ඇත්දත් අඩිය . . | 6-62—1—4 |
| වලිච්චි දමන ලද ගලන්තට්ටුවක් ... | 9-62—1—3 |
| පැරණි උඩරට පිත්තල බත්දේසියක් ... .. | 10-62—1—8 |
| පැරණි ගලින් නිමැවුණු විත කළස් දෙකක් ... . . | 5-61—2—5 (ඒ හා බී) |

III අධ්‍යක්ෂක තැන විසින් ලබාගන්නා ලද දේ :

| | |
|---|---|
| (i) මැණික පතලයකින් කැණගන්නා ලද පැරණි මැටි කොත කැරැල්ලක කොටසක් ... | 31-62—2-37 |
| (ii) පැරණි කටාකාර, මැටි දියියක කැඩුණු කැබැලි වේවා මිනිහාගල් කන්දෙන් එකතු කර ගන්නා ලදී. | 21-61—18-37 |

## 1 වැනි පරිශිෂ්ටයේ (ඩී) කොටස

### කොළඹ ජාතික කෞතුකාගාරය

### අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර තැනගේ අංශය

කෞතුකාගාර දේශන මාලා

**අධ්‍යක්ෂක තැන කළ දේශන :**

| | | මාධ්‍යය |
|---|---|---|
| 62. 3.15 | සිංහලයන්ගේ ලිංගික ඇදහිලි ක්‍රමය .. ... ... | ඉංග්‍රීසි |
| 62. 6.21 | ප්ලයිස්ටොසීන යුගයේ ලංකාවේ සත්තු .. .. .. | එම |

**සත්ව විද්‍යා සහකාර තැන කළ දේශන :**

| | | |
|---|---|---|
| 61.10.24 | සර්පයෝ, සර්ප විෂ හා විෂනාශක .. ... ... .. | ඉංග්‍රීසි |
| 61.11.15 | ජීව විද්‍යාත්මක වටා පිටාවක් වශයෙන් මුහුද ... ... . | එම |
| 61.11.29 | මුහුදු සතුන්ගේ අන්තර් සම්බන්ධතා ... ... . | එම |
| 62. 3. 6 | කාලාන්තර ඔස්සේ සත්ව ජීවිත වග තුග—කොඳුඇට රහිත වූවන්ගේ යුගය .. | එම |
| 62. 3.13 | කාලාන්තර ඔස්සේ සත්ව ජීවිත වගතුග—ගොඩබිම සත්ව ජීවිතයේ උදාව ... | එම |
| 62. 3.20 | කාලාන්තර ඔස්සේ සත්ව ජීවිත වගතුග—උරගයන්ගේ සමෘද්ධිමත් කාලය . | එම |
| 62. 6. 5 | සපාකන මුහුදු සත්තු ... ... .. | එම |
| 62. 4.14 | තුඩින් ඇනින මුහුදු සත්තු . . ... ... | එම |
| 62. 7. 5 | කෑමට ප්‍රයෝජනයට ගැනීමට අන්තරාදායක වන මුහුදු සත්තු ... .. | එම |
| 62. 7 16 | සත්ව ජීවිතයේ මූලාරම්භය පිළිබඳ සත්‍ය කිහිපයක් .. ... | එම |
| 62. 7.26 | සත්ව විපරිනාමයේ ප්‍රධාන අවස්ථා .. ... ... ... | එම |

## 1 වැනි පරිශිෂ්ටයේ (ඩී) කොටස—(සම්බන්ධයි)

| | | මාධ්‍යය |
|---|---|---|
| **කීට විද්‍යා සහකාරිණිය කළ දේශන :** | | |
| 61.10. 3 | ක්ෂුද්‍රප්‍රාණීන් අතර සමාජ ජීවිතය | ඉංග්‍රීසි |
| 61.10.12 | ක්ෂුද්‍ර ප්‍රාණී සංසගන .. | එම |
| 61.10.17 | සත්ව වෙස් පෙරළිය (ක්ෂුද්‍ර ප්‍රාණීන් ගැන විශේෂයෙනි) | එම |
| 61.11 20 | මිනිසා කෙරෙහි ක්ෂුද්‍රප්‍රාණීන්ගේ සබඳකම් . | එම |
| 61.11.27 | වේ කුලවල ජීව විද්‍යාව . | එම |
| 62. 6.12 | සත්ව ලෝකයේ ආලෝක නිෂ්පාදනය . . | එම |
| 62. 7.17 | විශිෂ්ට සත්ව කොටසක්—ක්ෂුද්‍ර ප්‍රාණීහු .. . | එම |
| **මානව වංශ විද්‍යා සහකාර :** | | |
| 62. 2. 2 | පකිස්තානයේ බෞද්ධ නෂ්ටාවශේෂ කිපයක් .. . | සිංහල |
| 62. 2. 9 | දෙරට දෙවි ඇදහිලි . . | එම |
| 62. 3. 2 | ලංකා ගුහ විද්‍යාව ... ... | එම |
| 62. 3. 9 | සිංහල මිනිසුන්ගේ සමාජ හා ආගමික උත්සව වලදී ආලෝකයේ ඇති වැදගත් කම | ඉංග්‍රීසි |
| 62. 3.16 | සිංහල මිනිසුන්ගේ මිථ්‍යා විශ්වාස කිපයක් .. ... | එම |
| 62. 3.30 | සිංහල තොරන් කවි . .. | සිංහල |
| 62. 6. 1 | ජගත් මාතා ඇදහිල්ල ... .. . | එම |
| 62. 6.15 | මහා පරාක්‍රමබාහු රජු සමයේ සංස්කෘතික ශ්‍රී විභූතිය ... | ඉංග්‍රීසි |
| 62. 6.22 | සිංහල ජන කවි හා ජන කථා . ... | සිංහල |
| 62. 7.13 | සිංහල ආප්තෝපදේශ හා උපදේශ වාක්‍ය . ... . | ඉංග්‍රීසි |
| 62. 7.20 | සිංහල සංස්කෘතියේ විශේෂිය ලක්ෂණ කිහිපයක් .. . . | සිංහල |
| 62. 7.27 | අග්නිදිග ආසියාවේ ආදිකාලීන ගෝත්‍රයන්ගේ සංස්කෘතික ලක්ෂණ කිහිපයක් .. | ඉංග්‍රීසි |
| **මානව වංශ විද්‍යා දෙවැනි සහකාර :** | | |
| 61.11. 6 | හින්දු කුල භේදය I .. .. | ඉංග්‍රීසි |
| 61.11.13 | හින්දු කුල භේදය II .. .. ... | එම |
| 62. 2.20 | සිංහල නැකම් පිළිවෙල .. . ... .. | එම |
| 62. 3.21 | ග්‍රාමීය සමාජය ... . .. ... ... | එම |
| 62. 3.13 | ගරා යකා ඇදහිල්ල I . .. .. .. | එම |
| 62. 6.20 | ගරායකා ඇදහිල්ල II .. .. ... ... | එම |
| **අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර (දැනට විශ්‍රාම ගොස් සිටින එච්. ඇල්. කල්දේරා මයා.) :** | | |
| 61.10. 9 | පුරාවිද්‍යා කැණීම් .. ... . .. .. | සිංහල |
| 61.10.16 | යුරෝපීය සමයේ ලංකාවේ භාවිත වූ කාසි .. .. ... | එම |
| 61.10.27 | පොළොන්නරුව සමයේ බිතු සිතුවම් .. ... ... | එම |
| 61.11. 2 | මහනුවර සමයේ බිතු සිතුවම්වල විශේෂ ලක්ෂණ . .. .. | එම |
| **මානව වංශ හා පුරාවිද්‍යා ආරක්ෂක හා වැඩබලන අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර :** | | |
| 61.11.14 | සිංහල ගෘහස්ථෝපකරණ ... ... ... ... | ඉංග්‍රීසි |
| 61.11.16 | සිංහල ගෘහස්ථෝපකරණ .. ... . . | එම |
| 62. 2.28 | ලංකාවේ නමගිය ප්‍රාග්ඓතිහාසික භූමිභාගය—බෙල්ලන්බැඳිපැලැස්ස ... | එම |
| 62. 3.26 | ලංකාවේ කාසි ... ... ... ... | එම |
| **සිංහල සන්දර්ශක තැන :** | | |
| 61.10.19 | සිංහල මූර්තිකලාවේ සංකේත කිපයක් ... .. ... | ඉංග්‍රීසි |
| 61.10.26 | සිංහල මූර්තිකලාවේ සංකේත කිපයක් ... ... .. | සිංහල |
| 61.11.21 | ලංකා සිතුවම්වලින් හා මූර්තිවලින් හෙළිවන සංගීතය හා නෘත්‍යය ... ... | ඉංග්‍රීසි |
| 61.11.30 | ලංකා සිතුවම්වලින් හා මූර්තිවලින් හෙළිවන සංගීතය හා නෘත්‍යය . ... | සිංහල |

## 1 වැනි පරිශිෂ්ටයේ (ඩී) කොටස—(සම්බන්ධයි)

### කොළඹ ජාතික කෞතුකාගාරය

### වෙනත් දේශන

**අධ්‍යක්ෂක තැන :**

| මධ්‍යස්ථානය | විෂයය | මාධ්‍යය |
|---|---|---|
| කාන්තා විද්‍යාලයය, ෆ්ලවර් රෝඩ්, කොළඹ 7 | ලංකාවේ වදවීගිය මානවයෝ හා සත්වයෝ ... | ඉංග්‍රීසි |
| රෝටරි සමාජය, ගල්කිස්ස .. . | ලංකාවේ වදවීගිය මානවයෝ . | එම |
| රෝටරි සමාජය, කොළඹ .. .. | සිංහලයන්ගේ ලිංග ඇදහිල්ල. . ... | එම |

**මානව වංශ විද්‍යා සහකාර :**

| | | |
|---|---|---|
| *යුද්ධ පාඨශාලාව .. . | ලංකා ඉතිහාසය පිළිබඳ දේශන 10 ක් ... | ඉංග්‍රීසි |
| යුද්ධ හමුද මූලස්ථානය, කොළඹ ... | (i) අනුරාධපුර සමය<br>(ii) පොළොන්නරු සමය<br>මේ එක් එක් මාතෘකාව ගැන දේශන 3 බැගිනි<br>(i) පරංගි සමය<br>(ii) ඕලන්ද සමය<br>මේ එක් එක් මාතෘකාව ගැන දේශන 2 බැගිනි | |
| මෛත්‍රිය ශාලාව, බම්බලපිටිය | මරණය හා ඉන්පසු ජීවිතය . . | ඉංග්‍රීසි |
| විද්‍යාලංකාර සරසවිය, කැළණිය . | සිංහලයන්ගේ ඇදහිලි හා මෙරට දෙවිවරු | එම |
| බාලිකා මහ විද්‍යාලය, කාසල් වීදිය, කොළඹ 8 . | සිංහල ජන නැටුම් .. | එම |
| බෞද්ධ කාන්තා ඇබෑසිය, බොරලැස්ගමුව ... | බෞද්ධාගමේ දූත මෙහෙවර ... | සිංහල |
| ලංකා ගුවන් විදුලියේ ඉංග්‍රීසි ස්වදේශාංශය . | බෞද්ධ කථා කිපයක් ... . | ඉංග්‍රීසි |

* මේ දේශන මාලාව යුද්ධ හමුද නිලධරයන් සඳහා වූ මාණ්ඩලික විද්‍යාල තෝරා ගැනීමේ විභාගය සඳහා නියමිත අධ්‍යයන නිර්දේශ පත්‍රිකාවේ කොටසක් විය.

## 1 වැනි පරිශිෂ්ටයේ (ඊ) කොටස

### කොළඹ ජාතික කෞතුකාගාරය

### අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර අංශය

ස්පෝලියා සිලැනිකාවේ 30 වැනි කාණ්ඩයේ—1 වැනි කොටස

**අධ්‍යක්ෂක තැන සැපයූ පයේෂණ ලිපි :**

(1) ලංකාවේ ප්ලයිස්ටොසීන විස්තර විද්‍යාත්මක කාල විද්‍යාවේ දෘෂ්ක කිහිපයක්, එක් චිත්‍රයක් හා පාඨ චිත්‍රයක් සහිතයි.

(2) වදවීගිය රත්නපුර ලංකා සත්ව සංහතියට අයත් ක්ෂීරපායි සතුන් කිප දෙනෙක් 5 වැනි කොටස. හිපපොටමස්ගේ හා ගවරාගේ ප්‍රති නිර්මාණ සහිතයි. තහඩු චිත්‍ර 5 යි. පාඨ චිත්‍ර 5 යි.

(3) වදවී ගිය ලංකා හොමිනොයිඩ්ස් විශි තුන ගැන වැඩිදුර විස්තර. තහඩු චිත්‍ර එකයි.

(4) ලංකාවෙන් ලැබුණු නව්‍ය සයිප්‍රිනිඩ් **පන්ටියස් තිඩියි** නම් සතෙක්. තහඩු චිත්‍ර එකකි.

(5) **වන්න** ඉෙනොව් 1763 විශිය ලංකාවේ එයාප්තව ඇති අයරු. සිතියමක් සහිතයි.

(6) නව්‍ය ලංකා වැලි පිඩුරු විශේෂයක්. එක් තහඩු චිත්‍රයක් සහිතයි.

(7) උතුරු ලංකාවෙ **බලයෙනොප්ටෙරා ඇක් යුටොරොස් ට්‍රාරා බොනායෙරෙන්සිස්** නැමැති කුඩා උල් සහිත නව්‍ය උපවර්ගිය තල්මස් විශේෂයේ විශාල මරණ සංඛ්‍යාව

(8) **ඇලිපාස් මැක්සිමුස් මැක්සිමුස් ලින්ගේ හා ලොක්සොඩොන්ටා ඇෆ්‍රිකානා** (බ්ලු මෙන්බාච්) ගේ දළ හා වල්ග වෙනස. එක තහඩු චිත්‍රයක් ඇත.

(9) **නෝමෝසපියන්ස් බලන්ගොඩෙන්සිස්ගේ** එළිමහන් වාස භූමි පෙදෙසක්. (III වැනි කොටස) තහඩු චිත්‍ර 12 කි. පාඨ චිත්‍ර 6 කි.

(10) වැද්දන් සිංහලයන් හා මිශ්‍රවීම. තහඩු චිත්‍ර 7 කි.

(11) සිංහල මූර්ති ශිල්පියාගේ සන්ධිකිරීමේ ශාස්ත්‍රය. තහඩු චිත්‍ර එකකි. පාඨ චිත්‍ර හයකි.

## I වැනි පරිශිෂ්ටයේ (ඊ) කොටස— සම්බන්ධයි)

**සත්ව විද්‍යා සහකාර තැන සම්පාදනය කළ පර්යේෂණ ලිපි:**

(1) වොජ් බැන්ක් හි **පොන්ටොබ්ඩෙලා (පොන්ටොබ්ඩෙලිනා)** මැක්‍රොතිලා ඩ'මාර්ඩා හා **පොන්ටොබ්ඩෙලා ඇකියුලියාටා** නාඩින් සම්භවීම. තහඩු චිත්‍ර එකකි. පාඨ චිත්‍ර එකකි.

(2) වෝජ් බැන්ක් වලින් ලබාගන්නා ලද **පොන්ටොබ්ඩෙලා මැක්‍රොකැනෙන්සිස්** නමැති නව්‍ය කුඩැලි විශේෂය. තහඩු චිත්‍ර එකයි. පාඨ චිත්‍ර එකයි.

(3) ලංකාවේ නැගෙනහිර පළාතේ ආරුගම් කලපුවෙන් ලැබුණු **සිලැනිකොබ්ඩෙල්ලා අරුගමෙන්සිස්** නමැති නව්‍ය වර්ගය. තහඩු චිත්‍ර 3 යි.

(4) හුනුවැල්ල බැවුමින් හා හුනුවැල්ල ගඟේ ඉහළ කොටස් වලින් ලබාගන්නා ලද සත්ව විද්‍යා පිළිබඳ සටහන්. සිතියමක් සහිතයි.

**මානව වංශ විද්‍යා සහකාර තැන විසින් සම්පාදිත පර්යේෂණ ලිපි:**

(1) සතර වරම් දෙවියෝ හෙවත් බුද්ධාගමයේ ආරක්ෂක දෙවිවරු. කොළඹ කෞතුකාගාරයේ තිබෙන ඔවුන්ගේ කුඩා පිළිම පිළිබඳ විශේෂ අධ්‍යයනයක් සහිතවයි.

(2) මඟුල් පෝරුව හෙවත් සිංහල විවාහයේ චාරිත්‍රානුගත විධිය.

## I වැනි පරිශිෂ්ටයේ (එෆ්) කොටස

### කොළඹ ජාතික කෞතුකාගාරය

### I ජාතික කෞතුකාගාර ප්‍රකාශය

1. **ලංකා හෞතුක මානව විද්‍යාව.** මහාචාර්ය ඩබ්ලිව්. ස්ටඩ්වී ඒ. එම්. (හාවර්ඩ්), පී. එච්ඩී. (පෙන්සිල්වේනියා විශ්ව විද්‍යාලයය) මහතා විසිනි. මෙහි කොටසක් සම්පාදනය කරන ලද්දේ, කොළඹ කෞතුකාගාරයේ මානව වංශ විද්‍යා සහකාරව සිට මියගිය ලෙප්ටිනන්ට් කොමැන්ඩර් ජේ. ආර්. ද ලා හෝලේ මැරට් මහතා විසින් රැස්කරන ලද විෂය කරුණු උපකාර කැරගෙනය.

2. **කොළඹ කෞතුකාගාර මාර්ගෝපදේශක සංග්‍රහය.** මෙය ඒ ඒ අංශ භාර නිලධාරීන් විසින් සැපයිණි.

*3. **අෂ්ට පරීක්ෂාව.** (රෝග විනිශ්චය කිරීමේ අට වැදෑරුම් ක්‍රමය) මෙය අධ්‍යක්ෂක තැන විසින් සැකැසිණි. ජාතික කෞතුකාගාර හස්ත ලේඛන පෙළෙහි 10 වැනි කාණ්ඩය මෙය වේ.

†4. **ගෙඩි වෙදකම.** (ගෙඩිවලට ප්‍රතිකාර ක්‍රමය.) අධ්‍යක්ෂක විසින් සැකැසිණි.

†5. **ස්පොලියා සිලැනිකා 29 වැනි කාණ්ඩයට සූචිපත්‍රයක්.** මෙය අධ්‍යාපන හා ග්‍රන්ථ ප්‍රකාශන සහකාර තැන විසින් පිළියෙළ කැරිණි.

### II සාහිත්‍ය සම්පාදන

**(ඒ) අධ්‍යක්ෂක තැනගේ සම්පාදන:**

1. ශිලා යුග හා ලංකාවේ වඳවී ගිය මානවයෝ. මෙය මහාචාර්ය එම්. ආර්. සානි මහතාගේ "විපරිණාම ගත මිනිසා" නමැති නව්‍ය කෘතියේ 2 වැනි සංස්කරණය (ලෝංග්මන් මුද්‍රණය) සඳහාය.

2. ලංකාවේ වඳවී ගිය **හොමිනොයිඩායි.** විද්‍යෝදය විශ්ව විද්‍යාලයීය මානව විද්‍යා සංග්‍රහයේ 1962 2 වැනි කාණ්ඩයේ 52 සිට 62 දක්වා පිටුවල පළවේ. තහඩු චිත්‍ර 6 යි.

3. **බිබෝස් සිංහලෙයුස්** නමැති වඳවී ගිය පැහැදිලි විශේෂයක් වන ලංකා ගවර **සිලෝන් වුඩ්** සඟරාවේ 11 වැනි කාණ්ඩයේ, 1962 මාර්තු මස පළවුණු 3 වැනි කලාපයේ 14-16 පිටුවේ පළවිය. රූප 1 යි. තහඩු චිත්‍ර 1 යි.

4. ලංකාවේ වඳවී ගිය හිපපොටමස්. **සිලෝන් වුඩ්** සඟරාවේ 11 වැනි කාණ්ඩය, 9 දරන කලාප, 1962 සැප්තැම්බර්. පිටුව 28-29. එක් තහඩු චිත්‍රයක් සහිතයි.

*5. **වඳවී ගිය ලංකා සිංහයා.** සිලෝන් වුඩ්—එක් තහඩු චිත්‍රයක් සහිතයි.

6. ලංකාවේ මුල්ම මානවයෝ හා උප මානවයෝ. මහනුවර සංඝරාජ විශ්ව විද්‍යාලයීය පිරිවෙණෙහි "**වාර්ෂික සඟරාව**".

**(බී) සත්ව විද්‍යා සහකාර තැනගේ සම්පාදන:**

1. **ස්පිරෝර්බිස් කොරලයිනී.** නමැති නව්‍ය වර්ගය හා බ්‍රිතාන්‍ය වෙරළෙහි සුලබ ස්පිරෝබිනී (සර්පියුලිඩා) නමැති වර්ගයෙන් කීපයක්. **මහා බ්‍රිතාන්‍යයේ සාගර ජීව විද්‍යාත්මක සමාජ සඟරාවේ 42** වැනි කාණ්ඩයේ 1962 අංක 3 දරන කලාපයෙහි පළවිය. (මේ ලිපිය මහාචාර්ය ඊ. ඩබ්ලිව්. නයිට් ජෝන්ස් පී.එච්ඩී., (ඔක්ස්ෆර්ඩ්) මහතා සමග සහයෝගීව පිළියෙළ කැරිණි.)

* මුද්‍රණය වෙමින් පවතී.

† මුද්‍රණය සඳහා සූදානම්ය.

